45978



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

**S | 1**

## (01) ථෙරවාදී බුද්ධධර්මයේ මූලික ඉගැන්වීම්

පැ තුනයි

I කොටසේ ප්‍රශ්නය ද II කොටසින් තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළු ව ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

සැ.යු. I කොටසේ ප්‍රශ්නයට පිළිතුරු මෙම පත්‍රයේ ම ලියා, II කොටසේ පිළිතුරු සමඟ අමුණා භාරදෙන්න.

විභාග අංකය :............................

### I කොටස

1. (i) ත්‍රිශික්ෂාවට අයත් තුන්වැනි ශික්ෂාව ලියන්න. එයට අදාළ මාර්ගාංග දක්වන්න. *(ලකුණු 02 යි)*

.............................................................................................................

.............................................................................................................

(ii) දුක දෙවියන්ගේ කැමැත්තට අනුව සිදුවන්නක් බව ප්‍රකාශ කළ ප්‍රාග් බෞද්ධ මතවාදය නම් කරන්න. *(ලකුණු 02 යි)*

.............................................................................................................

(iii) නියාම ධර්මවලින් හතරක් දක්වන්න. *(ලකුණු 02 යි)*

(අ) .............................................................................................

(ආ) .............................................................................................

(ඉ) .............................................................................................

(ඊ) .............................................................................................

(iv) 'සුඛා විරාගා ලොකෙ' මෙම පාළි පාඨයෙහි තේරුම ලියන්න. *(ලකුණු 02 යි)*

.............................................................................................................

(v) අභිධ්‍යා හා ව්‍යාපාද යන අකුසල ධර්මයන්හි වෙනස දක්වන්න. *(ලකුණු 02 යි)*

.............................................................................................................

.............................................................................................................

(vi) සංස්කාරයන්ගේ ලක්ෂණ තුන නම් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) .............................................................................................

(ආ) .............................................................................................

(ඉ) .............................................................................................

[දෙවැනි පිටුව බලන්න.

(vii) ත්‍රිවිධ තණ්හාවන් දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ඉ) ..........................................................................

(viii) සප්ත විශුද්ධි ධර්මයන්ගෙන් හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ඉ) ..........................................................................

(ඊ) ..........................................................................

(ix) විපාක දෙන පිළිවෙළ අනුව කර්මය කොටස් හතරකට බෙදේ. ඒවා දක්වන්න. *(ලකුණු 04 යි)*

(අ) ..........................................................................

(ආ) ..........................................................................

(ඉ) ..........................................................................

(ඊ) ..........................................................................

(x) පහත සඳහන් ගාථාව සම්පූර්ණ කරන්න.

පුඤ්ඤං චෙ පුරිසො කයිරා *(ලකුණු 02 යි)*

..........................................................................

..........................................................................

..........................................................................

එහි තේරුම ද ලියන්න. *(ලකුණු 02 යි)*

..........................................................................

..........................................................................

..........................................................................

..........................................................................

* *

45669



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

## (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

**S 2**

පැ තුනයි

**I** කොටසේ ප්‍රශ්නය ද, **II** කොටසින් තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළු ව ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

සැ.යු. **I** කොටසේ ප්‍රශ්නයට පිළිතුරු මෙම පත්‍රයේ ම ලියා, **II** කොටසේ පිළිතුරු සමග අමුණා භාරදෙන්න.

විභාග අංකය : ..............................

### I කොටස

**1.** (i) බුදු දහමේ සඳහන් 'බ්‍රහ්මචර්යාව' යන්නෙහි අදහස ලියන්න. *(ලකුණු 02 යි)*

..............................................................................................

..............................................................................................

(ii) සැදැහැති කුල පුත්‍රයෙකු උදෙසා මහණ බමුණන් විසින් කළ යුතු යුතුකම් සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වේ. එම යුතුකම් අතුරින් දෙකක් ලියන්න. *(ලකුණු 02 යි)*

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(iii) ගිහි පැවිදි සම්බන්ධතාව නිසා ශාසනික දියුණුවට ලැබෙන ප්‍රතිලාභ දෙකක් දක්වන්න. *(ලකුණු 02 යි)*

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(iv) සැබෑ භික්ෂු ජීවිතයක කැපී පෙනෙන ගුණාංග අතුරින් දෙකක් සඳහන් කරන්න. *(ලකුණු 02 යි)*

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

(v) සාලිකේදාර ජාතකයේ දැක්වෙන හොටෙන් හැල් වී ගෙන යන ගිරා රජු 'ණයෙන් මිදෙමි ණය දෙමි' යනුවෙන් කරන ප්‍රකාශයේ අදහස ලියන්න. *(ලකුණු 02 යි)*

..............................................................................................

..............................................................................................

..............................................................................................

(vi) සාමාන්‍ය පුද්ගලයා ගිනි එකොළසකින් දැවෙන බව ධම්මපද නිදාන කථාවක සඳහන් වේ. එසේ දැවෙන ගිනි අතුරින් දෙකක් ලියා දක්වන්න. *(ලකුණු 02 යි)*

(අ) ..............................................................................................

(ආ) ..............................................................................................

[2 වැනි පිටුව බලන්න.

(vii) බුද්ධ කාලයේ විසූ අසංවර භික්ෂූන්ගේ අගෝචර ක්‍රියාවන්ගෙන් දෙකක් ලියන්න. *(ලකුණු 02 යි)*

(අ) ..............................................................................

(ආ) ..............................................................................

(viii) සිංහලට නගන්න.

(අ) යෙ තං න උපනය්හන්ති - වෙරං තෙසූපසම්මති. *(ලකුණු 04 යි)*

..............................................................................

..............................................................................

(ආ) අභිත්ථරෙථ කල්‍යාණෙ - පාපා චිත්තං නිවාරයෙ

..............................................................................

..............................................................................

(ix) පහත සඳහන් අදහස් ඇති ධම්මපද ගාථා නිවැරදිව ලියන්න. *(ලකුණු 04 යි)*

(අ) "යම් සේ බඹරා මලත්, එහි පැහැය හා සුවඳත් නො නසා රොන් ගෙන යන්නේ ද, මුනිවරයා එලෙස ගමේ හැසිරෙයි."

..............................................................................

..............................................................................

..............................................................................

..............................................................................

(ආ) "පෘථග්ජන පුද්ගලයා යම් තැනක නො ඇලේ ද ඒ වන පෙදෙස සිත්කලු ය. රාගය නැසූ රහතන් වහන්සේ එහි ඇලෙන්නාහ. උන්වහන්සේ කම් සැප නො සොයන බැවිනි."

..............................................................................

..............................................................................

..............................................................................

..............................................................................

(x) 'අ' කොටසේ යෙදුමට ගැළපෙන යෙදුම 'ආ' කොටසෙන් තෝරා හිස්තැන් තුළ ලියන්න. *(ලකුණු 06 යි)*

| 'අ' | | 'ආ' |
|---|---|---|
| 1. චුල්ලතිස්ස තෙර | .............................. | වනයෙහි මංමුළා විය. |
| 2. කෝසිය සිටුතුමා | .............................. | සොරුන්ට බත් පිසියි. |
| 3. බරණැස වැද්දා | .............................. | නෑයන්ට උපකාර කිරීම. |
| 4. මහාකපි ජාතකය | .............................. | වෘද්ධයෙකි. |
| 5. වටුවා | .............................. | මසුරෙකි. |
| 6. පතිකෝලම්බ | .............................. | මුරණ්ඩුය. |
| | | දානපතියෙකි. |

* *



0017338

48092



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

## (03) අභිධර්මය

S 3

පැ තුනයි

I කොටසේ ප්‍රශ්නය ද II කොටසින් තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළු ව ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

සැ.යු. I කොටසේ ප්‍රශ්නයට පිළිතුරු මෙම පත්‍රයේ ම ලියා, II කොටසේ පිළිතුරු සමග අමුණා භාරදෙන්න.

විභාග අංකය :..............................

### I කොටස

1. (i) අභිධර්ම පිටකය 'නිප්පරියාය දේසනා' යනුවෙන් හැඳින්වීමට හේතුව දක්වන්න. *(ලකුණු 02 යි)*

..........................................................................................

..........................................................................................

(ii) අටුවාචාරී බුද්ධඝෝෂ හිමියන් අභිධර්මය දැනගැනීමේ ඇති වැදගත්කම පෙන්වාදුන් ආකාරය දක්වන්න. *(ලකුණු 02 යි)*

..........................................................................................

..........................................................................................

..........................................................................................

(iii) සර්වාස්තිවාදී අභිධර්මයේ අසංඛත ධර්ම තුනක් දක්වයි. එම අසංඛත ධර්ම තුන නම් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) ..........................................................................................

(ආ) ..........................................................................................

(ඉ) ..........................................................................................

(iv) සිත් පහළවන සතරවැදෑරුම් භූමි නම් කර, ඒ ඒ භූමිවල පහළවන සිත් සංඛ්‍යාව දක්වන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(v) දොළොස් අකුසල් සිත් මූලික කොටස් තුනකට බෙදේ. එම කොටස් තුන නම් කර, ඒ ඒ කොටස්වලට අයත් සිත් සංඛ්‍යාව දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ..........................................................................................

(ආ) ..........................................................................................

(ඉ) ..........................................................................................

(vi) දොළොස් අකුසල් සිත්හි අවිශේෂයෙන් යෙදෙන චෛතසික පිළිවෙළින් නම් කර, ඒවා හඳුන්වන නම් ද ලියන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................

..........................................................................................

[දෙවැනි පිටුව බලන්න.

(vii) ලෝකෝත්තර පළමු කුසල් සිත ලියන්න. එම සිතින් සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කරන සංයෝජන නම් කරන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(viii) අප්පමඤ්ඤා චෛතසික නම් කරන්න. එයින් එකක් හඳුන්වන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(ix) විඤ්ඤත්ති රූප නම් කරන්න. එයින් කෙරෙන කාර්යය දක්වන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

(x) නිවන් පසක් කිරීමේ දී උපකාරී වන ඥාණ විශේෂ තුනක් ලෙස ත්‍රිවිද්‍යා හැඳින්වේ. එම ත්‍රිවිද්‍යා ඥාණ නම් කර එක් එක් ඥාණයෙන් කෙරෙන කාර්යය දක්වන්න. *(ලකුණු 03 යි)*

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

..........................................................................................................................

* *

[තුන්වැනි පිටුව බලන්න.

46593



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 – බෞද්ධ ධර්මාචාර්ය විභාගය – 2018 (2019)

**S 4**

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

පැ තුනයි

I කොටසේ ප්‍රශ්නය ද, II වන කොටසින් තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළු ව ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

සැ.යු. I කොටසේ ප්‍රශ්නයට පිළිතුරු මෙම පත්‍රයේ ම ලියා, II කොටසේ පිළිතුරු පත්‍රය සමග අමුණා භාරදෙන්න.

විභාග අංකය :..............................

### I කොටස

1. (i) (අ) පුරාණ තෙරුන් ප්‍රථම සංගීතිය ප්‍රතික්ෂේප කළේ ඇයි?

.............................................................................................................

(ආ) මේ කරුණ සඳහන් ව ඇත්තේ කවර ග්‍රන්ථවල ද?

.............................................................................................................

(ලකුණු 02 යි)

(ii) (අ) ථෙරවාද සම්ප්‍රදායයේ පසුබිම සකස් කිරීමටත් අභිනව නිකායන්හි ආරම්භය සඳහා නැඹුරු වීමටත් හේතු වූ ප්‍රශ්නය කුමක් ද?

.............................................................................................................

(ආ) මේ ප්‍රශ්නය මතු වූයේ කවර අවස්ථාවක දී ද?

.............................................................................................................

(ලකුණු 02 යි)

(iii) (අ) ථෙරා හෙවත් පැරණි පෙළේ භික්ෂූන් වහන්සේගේ මූලිකත්වයෙන් ආරම්භ වූ සංගායනාව කුමක් ද?

.............................................................................................................

(ආ) මේ කාරණය මගින් හෙළි වන්නේ උන්වහන්සේලා තුළ පැවති කවර අරමුණක් ද?

.............................................................................................................

(ලකුණු 03 යි)

(iv) (අ) රහත් බව හීන අධිගමයක් ලෙස දක්වා ඇත්තේ කවර සංකල්පයක් මගින් ද?

.............................................................................................................

(ආ) මෙහිදී බුද්ධත්වය පමණක් ශ්‍රේෂ්ඨ අධිගමය ලෙස සලකනු ලබන ඉගැන්වීම කුමක් ද?

.............................................................................................................

(ලකුණු 03 යි)

(v) (අ) සංඝ සමාජය නිකාය පහකට බෙදී ගියේ කවර රාජ්‍ය සමයකට පූර්වයේ දී ද?

.............................................................................................................

(ආ) මෙහිදී මහායානයෙන් බෙදී ගිය එක් නිකායක් නම් කරන්න.

.............................................................................................................

(ලකුණු 03 යි)

[2 වැනි පිටුව බලන්න.

(vi) (අ) වාත්සීපුත්‍ර හිමියන්ගේ අනුගාමිකයන් බෙදී ගිය නිකාය දෙකක් නම් කරන්න.

(I) ..............................

(II) ..............................

(ආ) මේ නිකාය අතුරෙන් වාත්සීපුත්‍ර හිමියන්ගේ මතවාද විමර්ශනය කරමින් ග්‍රන්ථයක් සම්පාදනය කළ නිකාය කුමක් ද?

..............................

(ලකුණු 03 යි)

(vii) (අ) මහාවස්තුව නමැති ග්‍රන්ථය කවර නිකායකට අයත් කෘතියක් ද?

..............................

(ආ) මේ නිකායේ මූලික ඉගැන්වීම දක්වන්න.

..............................

(ලකුණු 03 යි)

(viii) (අ) ධර්මයාත්‍රා ක්‍රියාත්මක කළ භාරතීය නරපතියා කවරෙක් ද?

..............................

(ආ) ධර්මයාත්‍රා යටතේ මේ රජතුමා සමෘද්ධියට පත් කළ අංග දෙක කවරේ ද?

..............................

..............................

(ලකුණු 03 යි)

(ix) (අ) බෝධිචර්යාවතාරයේ කතුවරයා කවරෙක් ද?

..............................

(ආ) මේ කෘතියෙන් ඉගැන්වෙන මූලික කරුණ කුමක් ද?

..............................

(ලකුණු 03 යි)

(x) (අ) අත්ථසාලිනී අටුවාව ලියන ලද්දේ කවුරුන් විසින් ද?

..............................

(ආ) මේ කෘතියට වස්තු විෂය වූ පාලි නිකාය ග්‍රන්ථය හා එය අයත් වන පිටකය දක්වන්න.

..............................

(ලකුණු 03 යි)

* *

0093186

[3 වැනි පිටුව බලන්න.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

**S 5**

## (05) බෞද්ධ සමාජ දර්ශනය

පැ තුනයි

**I කොටසේ ප්‍රශ්නය ද, II වන කොටසින් තෝරාගත් තවත් ප්‍රශ්න හතරක් ද ඇතුළු ව ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.**

**සැ.යු. I කොටසේ ප්‍රශ්නයට පිළිතුරු මෙම පත්‍රයේ ම ලියා, II කොටසේ පිළිතුරු සමඟ අමුණා භාරදෙන්න.**

විභාග අංකය :..............................

### I කොටස

**1.** (i) රාජ්‍ය පාලනයක අභිවෘද්ධියට හේතු වන සප්ත අපරිහාණීය ධර්ම ඇතුළත් වන්නේ කිනම් සූත්‍රයක ද? *(ලකුණු 01 යි)*

........................................................................................................................

(ii) අඹු-සැමියන් වශයෙන් එක්වන ස්ත්‍රී පුරුෂයන් ගුණාංග හතරකින් සමාන වන්නේ නම් මෙලොව පමණක් නොව පරලොව ද එක්වීමක් ම අපේක්ෂා කළ හැකි බව බුදුන් වහන්සේ පෙන්වා දුන්හ. එම සමානව පැවතිය යුතු ගුණාංග අතුරින් තුනක් ලියා දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ඉ) ........................................................................................................

(iii) ස්වාමි පුරුෂයකු කෙරෙහි අයෝග්‍ය ලෙස පිළිපදින භාර්යාවන් තිදෙනා නම් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ඉ) ........................................................................................................

(iv) බුදුරදුන්ගේ ඉගැන්වීමට අනුව විශ්වය ලෝකධාතු තුනකින් සකස් වී තිබේ. එම ලෝකධාතු තුන ලියා දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ඉ) ........................................................................................................

(v) ලෝකය සංවට්ටමාන යුගයෙහි ආභස්සර කායික සත්ත්වයින් පෘථිවිය වෙත පැමිණීමේ දී ඔවුන් තුළ විද්‍යමාන වූ මූලික ලක්ෂණ තුනක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ඉ) ........................................................................................................

(vi) සංසාර සංකල්පය උගන්වන බුදුසමය සත්ත්වයා පඤ්චගතියක උපත ලබන බව පෙන්වා දෙයි. එම පඤ්චගති අතුරින් තුනක් නම් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) ........................................................................................................

(ආ) ........................................................................................................

(ඉ) ........................................................................................................

[දෙවැනි පිටුව බලන්න.

(vii) චක්කවත්ති සීහනාද සූත්‍ර ඉගැන්වීමට අනුව සොබාදහමේ සමතුලිත බව ව්‍යාකූල වීමට විෂම මනුෂ්‍ය චර්යාව ඉවහල් වේ. මනුෂ්‍ය චර්යාව විෂම වීමෙහි ලා බලපාන මනෝමූලික කරුණු තුන ලියා දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ..............................

(ආ) ..............................

(ඉ) ..............................

(viii) මිනිසා උපතින් උසස් හෝ පහත් යැයි නොපිළිගන්නා බුදුසමය ආගමික චර්යාව හා බැඳෙන ගුණාංග මගින් ශ්‍රේෂ්ඨත්වයට පත්ව බ්‍රාහ්මණයකු වන අයුරු පහත ගාථාවෙන් උගන්වයි.

තපෙන බ්‍රහ්මචරියෙන - සංයමෙන දමෙන ච

එතෙහි බ්‍රාහ්මණො හොති - එතං බ්‍රාහ්මණ මුත්තමං

මෙහි ප්‍රකාශිත උසස් ගුණාංග තුනක් පෙන්වා දෙන්න. *(ලකුණු 03 යි)*

(අ) ..............................

(ආ) ..............................

(ඉ) ..............................

(ix) ගණතන්ත්‍ර රාජ්‍යවල පාලන පිළිවෙතෙහි මූලික ලක්ෂණ තුනක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 03 යි)*

(අ) ..............................

(ආ) ..............................

(ඉ) ..............................

(x) භාෂාවේ ගෞරවාන්විත හා අර්ථාන්විත භාවිතය පිළිබඳ ව මානවයාට ඇති අයිතිය තහවුරු කිරීමෙහි ලා බුදුසමය වාචසික සංවරය අවධාරණය කරයි. මෙහිලා නිර්දේශිත ශික්ෂා පද තුනක් ගෙන හැර දක්වන්න. *(ලකුණු 03 යි)*

(අ) ..............................

(ආ) ..............................

(ඉ) ..............................

* *

0051370

[තුන්වැනි පිටුව බලන්න.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)**

**(01) ථෙරවාදී බුද්ධධර්මයේ මූලික ඉගැන්වීම්**

**S 1**

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

## II කොටස

2. (i) බුදුරජාණන් වහන්සේ විවිධ අවස්ථාවල දී නොයෙක් සූත්‍ර දේශනා මගින් දුක විස්තර කොට වදාළහ. එබඳු සූත්‍ර දෙකක් දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) (අ) දුක්ඛාර්ය සත්‍යයෙහි දැක්වෙන තුන් වැදෑරුම් දුක් නම් කරන්න.

   (ආ) ඒවා සැකෙවින් හඳුන්වන්න. (ලකුණු 06 යි)

   (iii) "බුදුසමය ගැටලු නිරාකරණයට මග පෙන්වා දෙන දහමකි." චතුරාර්ය සත්‍යය ආශ්‍රයෙන් මෙම ප්‍රකාශයේ වැදගත්කම පහදා දෙන්න. (ලකුණු 08 යි)

3. (i) (අ) භාරතීය කර්ම සංකල්පයේ ආදිතම අවස්ථාව (යුගය) දක්වන්න.

   (ආ) එම සංකල්පයේ දැක්වෙන සදාචාරය පාලනය කරන දෙවියාගේ නම ලියන්න. (ලකුණු 04 යි)

   (ii) බුදුදහමේ කර්මයට අතිරේක ව කර්ම පථයක් ගැන ද ඉගැන්වෙයි. ඒ අනුව කර්මයේ හා කර්ම පථයේ වෙනස නිදසුනක් මගින් පහදා දෙන්න. (ලකුණු 06 යි)

   (iii) බුදුසමයට අනුව කර්මවාදය ඉගෙනීමෙන් සමාජයේ සිදුවන නොයෙකුත් අපරාධ මර්දනය කර ගැනීමටත් සුචරිතය සංවර්ධනය කර ගැනීමටත් හැකිය. මෙහි ඇති වැදගත්කම පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

4. (i) දිට්ඨිය හා සම්මා දිට්ඨිය යන දෙකෙහි වෙනස පහදා දෙන්න. (ලකුණු 04 යි)

   (ii) ආර්ය මාර්ගයෙහි ලා සම්මා දිට්ඨිය පූර්වංගම වන අයුරු පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

   (iii) ධාර්මික ජීවිතයක් ගොඩ නැගීම සඳහා සම්මා දිට්ඨිය ඉවහල් වන අයුරු විමසීමට ලක් කරන්න. (ලකුණු 08 යි)

5. (i) "තෘෂ්ණා ප්‍රත්‍යයෙන් උපාදානය වෙයි."

   (අ) මෙහි 'උපාදාන' යන්නෙහි අර්ථය දක්වන්න.

   (ආ) එබඳු උපාදාන දෙකක් නම් කරන්න. (ලකුණු 04 යි)

   (ii) පටිච්චසමුප්පාද ධර්ම න්‍යාය ඇතුළත් කෙටි සූත්‍රය ලියා දක්වන්න. (ලකුණු 06 යි)

   (iii) සමාජ හා ආර්ථික ගැටලු විශ්ලේෂණය කර විසඳුම් සපයා ගැනීම සඳහා පටිච්චසමුප්පාද දර්ශනය ඉවහල් කර ගත හැකි ආකාරය විමසීමට ලක් කරන්න. (ලකුණු 08 යි)

6. (i) රූපස්කන්ධයට අයත් රූප සියල්ල ප්‍රධාන ප්‍රභේද දෙකකින් යුක්ත ය. සංඛ්‍යා සමග එම ප්‍රභේද දෙක දක්වන්න. (ලකුණු 04 යි)

   (ii) ස්කන්ධ පංචකයේ අස්ථිරබව ප්‍රකට කරමින් වදාළ උපමා පහ ඒ ඒ ස්කන්ධයන්ට අදාළ පරිද්දෙන් ඉදිරිපත් කරන්න. (ලකුණු 06 යි)

   (iii) "සත්ත්වයා ස්කන්ධ පංචකය වරදවා තේරුම් ගැනීම නිසා සංසාරයේ දුක් විඳින බවත් එය විභාග කොට (පිරිසිඳ දැනීමෙන්) සසර තරණය කරන බවත් බුද්ධ දේශනාව යි." පහදන්න. (ලකුණු 08 යි)

[හතර වැනි පිටුව බලන්න.

**7.** (i) සමථ භාවනාව කෙටියෙන් හඳුන්වා දෙන්න. *(ලකුණු 04 යි)*

(ii) ආධ්‍යාත්මික වශයෙන් හා ලෞකික වශයෙන් සමථ භාවනාවෙන් ලද හැකි ප්‍රතිඵල කවරේ දැයි දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) (අ) කමටහන් දීමේ දී සැලකිල්ලට ගෙන ඇති හැසිරීම් ස්වභාවය පදනම් කොට ගත් චරිත වර්ග හය දක්වන්න.

(ආ) එම චරිතයන්ගෙන් එකිනෙකට සමාන ව යෙදෙන චරිත වෙන් කොට පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

**8.** (i) (අ) යථා භූත ඥාන දර්ශනය කෙටියෙන් හඳුන්වන්න.

(ආ) මෙමගින් ලෝකය හා සත්ත්වයා ගැන ලැබෙන අවබෝධය දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) යථා භූත ඥාන දර්ශනය හා විදර්ශනාව අතර ඇති සම්බන්ධතාව පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) "යථාභූත ඥාන දර්ශනය අනුව යමෙකු කටයුතු කරන්නේ නම්, ඔහුට තම උභයාර්ථය සලසා ගත හැකි ය." අදහස් දක්වන්න. *(ලකුණු 08 යි)*

* * *

45669



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

**S 2**

## (02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2. (i) බ්‍රාහ්මණ සමාජයේ පැවති 'ආශ්‍රම ධර්ම' නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) ශ්‍රමණ සම්ප්‍රදාය තුළ පැවති පොදු ලක්ෂණ දෙකක් අගය කරන්න. (ලකුණු 06 යි)
   (iii) බුදු දහම දඹදිව ශීඝ්‍රයෙන් පැතිර යාමට හේතු වූ කරුණු දෙකක් විස්තර කරන්න. (ලකුණු 08 යි)

3. (i) භික්ෂු සමාජයේ කෙලෙසීමට හේතුවන ආසවට්ඨානීය ධර්ම පහළ විය හැකි හේතු හතරක් නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) ආසවට්ඨානීය ධර්ම අතුරින් දෙකක් පහදා දෙන්න. (ලකුණු 06 යි)
   (iii) විනය නීති පැනවීමේ අරමුණු අතුරින් හතරක් ලියා, ඒවා පහදා දෙන්න. (ලකුණු 08 යි)

4. (i) එකල දඹදිව වැසි මිනිසුන් අතර 'මංගල' යන්න පිළිබඳව පැවති මත දෙකක් මංගල සූත්‍රයෙහි නිදාන කථාව ඇසුරෙන් ලියන්න. (ලකුණු 04 යි)
   (ii) 'ඉවසීම' මංගල කරුණක් වන්නේ කෙසේදැයි විස්තර කරන්න. (ලකුණු 06 යි)
   (iii) "මංගල කරුණු පිළිපදින තැනැත්තා ලෞකික දියුණුව පමණක් නොව ලෝකෝත්තර දියුණුව ද ලබා අපරාජිතව සුවසේ හැසිරෙයි." මේ අදහස පහදා දෙන්න. (ලකුණු 08 යි)

5. (i) සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන සදිසා අතුරින් දිසා හතරක් ලියා ඒ හා සම්බන්ධ පුද්ගලයන් සඳහන් කරන්න. (ලකුණු 04 යි)
   (ii) යහපත් දූ දරුවන් විසින් දයාබර දෙමව්පියන්ට උපස්ථාන කළ යුතු කරුණු සිගාලෝවාද සූත්‍රයෙහි සඳහන් වේ. ඒවා අතුරින් කරුණු තුනක් ලියා ඒවායෙහි අගය පහදා දෙන්න. (ලකුණු 06 යි)
   (iii) මව්පියන්ගේ හා දූ දරුවන්ගේ යුතුකම් සහ වගකීම් ඉටු නොවන විට සමාජය තුළ පැන නැගිය හැකි ගැටලු පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

6. (i) සත්තිගුම්බ ජාතකයෙහි සඳහන් ගිරා පැටවුන් දෙදෙනාට සත්තිගුම්බ හා පුෂ්පක යන නම් තැබීමට හේතුව ලියන්න. (ලකුණු 04 යි)
   (ii) ආරයට වඩා පරිසරය සහ සසර පුරුද්ද පුද්ගල චර්යාවන් කෙරෙහි බලපාන අයුරු සත්තිගුම්බ ජාතකය ඇසුරින් ප්‍රකට කරන්න. (ලකුණු 06 යි)
   (iii) සිංහලට නගන්න.

   අතීතෙ උත්තරපඤ්චාල නගරෙ පඤ්චාලො නාම රාජා රජ්ජං කාරෙසි. මහාසත්තො අරඤ්ඤායතනෙ එකස්මිං සානුපබ්බතෙ සිම්බලී වනෙ එකස්ස සුවරඤ්ඤො පුත්තො හුත්වා නිබ්බත්ති. ද්වෙ භාතරො අහෙසුං. තස්ස පන පබ්බතස්ස උපරි වාතෙ චොරගාමකො අහොසි, පඤ්චන්නං චොරසතානං නිවාසො. අධො වාතෙ අස්සමො, පඤ්චන්නං ඉසි සතානං නිවාසො.

   (සත්තිගුම්බ ජාතකය)

   (ලකුණු 08 යි)

7. (i) මණිකණ්ඨ ජාතකය දේශනා කිරීමට හේතු වූ සිද්ධිය (වර්තමාන කථාව) කුමක් ද? (ලකුණු 04 යි)
   (ii) "යමෙකුට ප්‍රිය වූ දෙයක් ඉල්ලන තැනත්තා අප්‍රිය අයෙකු බවට පත්වේ." මේ අදහස මණිකණ්ඨ ජාතකය ඇසුරෙන් සනාථ කරන්න. (ලකුණු 06 යි)
   (iii) සිංහලට නගන්න.

   තෙ උභො'පි භාතරො වයප්පත්තා මාතාපිතුන්නං කාලකිරියාය සංවිග්ගහදයා ඉසිපබ්බජ්ජං පබ්බජිත්වා ගංගා තීරෙ පණ්ණසාලං මාපෙත්වා වසිංසු. තෙසු ජෙට්ඨස්ස උද්ධගඞ්ගාය පණ්ණසාලා අහොසි. කණිට්ඨස්ස අධොගඞ්ගාය. අථෙකදිවසං මණිකණ්ඨො නාම නාගරාජා භවනා නික්ඛමිත්වා ගංගාතීරෙ මාණවක වෙසෙන විචරන්තො කණිට්ඨස්ස අස්සමං ගන්ත්වා එකමන්තං නිසීදි. (ලකුණු 08 යි)

[4 වැනි පිටුව බලන්න.

8\. (i) මෙම වාක්‍ය සිංහලට නගන්න.

(අ) එකං සමයං භගවා සාවත්ථියං විහරති ජේතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ.

(ආ) සබ්බත්ථ පූජිතො හොති - යො මිත්තානං න දූහති.

(ඉ) කාකවණ්ණතිස්ස මහාරාජා රොහණෙ රජ්ජං කාරෙන්තො මහාගාමෙ පටිවසති.

(ඊ) නත්ථි මෙ සරණං අඤ්ඤං - බුද්ධො මෙ සරණං වරං.

*(ලකුණු 08 යි)*

(ii) මෙම වාක්‍ය පාලියට නගන්න.

(අ) මම බුදුන් දහම් සඟුන් සරණ යමි.

(ආ) මව පුතා සමග විහාරයට ගොස් දන් දුන්නාය.

(ඉ) ළමයා උදෑසන ම දහම් පාසලට යන්නේ ය.

(ඊ) සියලු සත්වයෝ සුවපත් වෙත්වා.

(උ) සියලු සංස්කාරයෝ අනිත්‍ය වෙති.

*(ලකුණු 10 යි)*

* * *

48092

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

**S 3**

## (03) අභිධර්මය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2. (i) "අභිධම්මේ ද්වේ නිදානානි. අධිගම නිදානං දේසනා නිදානං" යන පාළි පාඨයේ සරල සිංහල අර්ථය දක්වමින් අභිධර්මයේ ආරම්භය හා විකාශය පිළිබඳව විස්තර කරන්න. (ලකුණු 04 යි)
   (ii) ථෙරිය විභජ්ජවාදීන්ගේ අභිධර්ම සම්ප්‍රදාය පිළිබඳ ව විස්තරයක් කරන්න. (ලකුණු 06 යි)
   (iii) ධම්මසංගණිප්පකරණය හා පුග්ගලපඤ්ඤත්තිප්පකරණය පිළිබඳව වෙන් වෙන් ව හැඳින්වීම් කරන්න. (ලකුණු 08 යි)

3. (i) බුදු සමයෙහි 'ධර්ම' යන වචනයෙන් නිරූපිත අර්ථ විභාග කරන්න. (ලකුණු 04 යි)
   (ii) සංස්කරණය වූ හටගත් කවර දෙයක් වුවත් සංඛත ධර්ම ලෙස හැඳින්වේ. සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)
   (iii) අසංඛත ධර්ම යන්නෙන් අදහස් කරන්නේ කුමක් දැයි විමර්ශනය කරන්න. (ලකුණු 08 යි)

4. (i) (අ) ද්වේෂ මූලික අකුසල සිත් දෙක ලියන්න.
   (ආ) එම සිත් දෙකේ වෙනස්කම පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ii) එම සිත්වල ඇතුළත් 'දෝමනස්ස' 'පටිඝ' 'සසංඛාරික' යන ලක්ෂණ පිළිබඳව උදාහරණ සහිතව හැඳින්වීම් කරන්න. (ලකුණු 06 යි)
   (iii) "ද්වේෂ චෛතසිකය වීතික්කම වීම තුළින් පුද්ගලයා අධ්‍යාත්මිකව හා සමාජමය වශයෙන් පරිහානියට පත්වේ." විමසන්න. (ලකුණු 08 යි)

5. (i) චිත්ත සහ චෛතසික අතර පවත්නා සිවුවැදෑරුම් සම්බන්ධතාව පෙන්වා දෙන්න. (ලකුණු 04 යි)
   (ii) චෛතසික වර්ගීකරණය කෙරෙන මූලික ප්‍රභේද නම් කර, ඉන් එකක් හඳුන්වන්න. එම එක් එක් ප්‍රභේදයන්ට අයත් චෛතසික සංඛ්‍යාව දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) සියලු ම සිත් සමඟ අනිවාර්යයෙන් ම යෙදෙන චෛතසික නම් කර, එම එක් එක් චෛතසිකය මගින් කෙරෙන කාර්යය පෙන්වා දෙන්න. (ලකුණු 08 යි)

6. (i) ඝානද්වාරික අතිමහන්තාරම්මණ චිත්ත වීථි සටහන අඳින්න. (ලකුණු 04 යි)
   (ii) අතිමහන්තාරම්මණ චිත්ත වීථියක පවත්නා මූලික ලක්ෂණ තුනක් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) පංචද්වාරික චිත්තවීථි හා මනෝද්වාරික චිත්තවීථි පිළිබඳ ව මූලික ප්‍රභේද ඇතුළත් වන සේ විස්තරයක් කරන්න. (ලකුණු 08 යි)

7. (i) "සීලේ පතිට්ඨාය සීලං නිස්සාය චත්තාරෝ සතිපට්ඨානේ භාවෙය්‍යාථ" යන පාඨයේ සරල අදහස ලියා චාරිත්‍ර සීලය, වාරිත්‍ර සීලය පිළිබඳව හැඳින්වීම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) සීලය පිළිබඳ නිර්වචනය දක්වා ආර්ය මාර්ගය අනුගමනය කිරීමේ දී සීලයේ ඇති වැදගත්කම පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)
   (iii) සතර සතිපට්ඨානය පිළිවෙළින් නම් කරන්න. එයින් පළමුවැන්න පිළිබඳව විස්තරයක් කරන්න. (ලකුණු 08 යි)

[හතරවැනි පිටුව බලන්න.

8. (i) නිවන අවබෝධ කර ගැනීම පිණිස අනුගමනය කරන ආර්යමාර්ගයේ සතර ආකාර වූ පියවර පිළිවෙළින් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) එම දෙවැනි, තෙවැනි, සිව්වැනි පියවර මගින් සංයෝජන සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කරන ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'නිර්වාණය' යන්න අර්ථකථනය කර, සෝපදිශේෂ නිබ්බාණ හා අනුපදිශේෂ නිබ්බාණ පිළිබඳව ලක්ෂණ දක්වමින් සංසන්දනාත්මක විස්තරයක් කරන්න. *(ලකුණු 08 යි)*

***

46593

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# 2563 – බෞද්ධ ධර්මාචාර්ය විභාගය – 2018 (2019)

**S 4**

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

2. (i) අශෝක රජතුමාගේ ධර්මවිජය සංකල්පය කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) එතුමාගේ සෙල්ලිපි ඇසුරෙන් මේ සංකල්පය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) මේ සංකල්පය යටතේ භාරතය තුළ ධර්මප්‍රචාරය සඳහා යෙදූ ක්‍රමෝපාය විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) ධර්ම සංගායනාවක් පැවැත්වීම සඳහා කණිෂ්ක රජතුමා යොමු වූ හේතු මොනවා ද? *(ලකුණු 04 යි)*
   (ii) මේ සංගායනාව පැවැත්වූ ස්ථානය හා ඊට සහභාගි වූ භික්ෂු පිරිස පිළිබඳ විස්තරයක් කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) මේ සංගායනාව මගින් සිදු වූ ප්‍රතිඵල සමාලෝචනය කරන්න. *(ලකුණු 08 යි)*

4. (i) මහායාන හා හීනයාන ද්විභේදය කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) ථෙරවාදයෙන් මහායානය බෙදී ගිය ආකාරය ඓතිහාසික සාධක මගින් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) මහායාන බුදුසමයේ ඉගැන්වීම්වල පවත්නා ආගමික හා දාර්ශනික අංශ දෙක නිදසුන් මගින් විභාග කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) භාරතයේ බෞද්ධ විශ්වවිද්‍යාල දෙකක් තෝරාගෙන ඒවා පිහිටි ස්ථාන, ආරම්භක රජතුමා හා ප්‍රධාන ආචාර්යවරයා යන කරුණු ඇතුළත් වන සේ කෙටි හැඳින්වීමක් කරන්න. *(ලකුණු 04 යි)*
   (ii) මෙම විශ්වවිද්‍යාල දෙකෙන් එකක අධ්‍යයන කටයුතු සඳහා ශිෂ්‍යයන් තෝරා ගත් ආකාරය විස්තර කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) ඉහත (ii) සඳහා ඔබ තෝරා ගත් විශ්වවිද්‍යාලයේ ඉගැන්වූ විෂය ක්ෂේත්‍රය විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

6. (i) මහායානය පැතිර පවත්නා රටවල් දෙකක් තෝරාගෙන ඒවායේ බුදුසමය හඳුන්වා දුන් ආකාරය කෙටියෙන් දක්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) මියන්මාරයේ (බුරුමයේ) හෝ තායිලන්තයේ හෝ ථෙරවාදී බුදුසමයේ ආරම්භය සිදු වූ ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) පහත යෙදුම් අතුරෙන් හතරකට කෙටි විවරණ සපයන්න.
   - (අ) කල්‍යාණි ශිලා ලිපි
   - (ආ) උපාලි මහ තෙරුන් වහන්සේ
   - (ඉ) කුමාරජීව
   - (ඊ) නමෝ අමිද බුත්සු
   - (උ) ශ්වේදගොන්
   - (ඌ) හියුං සියැං
   - (එ) කාශ්‍යප මාතංග හිමි

   *(ලකුණු 08 යි)*

7. (i) ශ්‍රී ලංකාවේ බුදුදහම ආරම්භ වූ ආකාරය කෙටියෙන් දක්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) මිහිඳු මාහිමියන් ශ්‍රී ලංකාවේ පැවැත්වූ ධර්ම දේශනා සඳහා තෝරාගත් පාළි සූත්‍ර සහ ධර්ම ග්‍රන්ථ හඳුන්වා උන්වහන්සේ එබඳු ධර්ම කොටස් තෝරා ගැනීමට හේතු වී යැයි සැලකෙන සාධක පරීක්ෂා කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) ශ්‍රී ලංකාවේ පැවැත්වූ ධර්ම දේශනා සඳහා මිහිඳු මාහිමියන් යොදා ගත් භාෂා මාධ්‍යය ඉන්දු ආර්ය ගණයට අයත් සිංහල ප්‍රාකෘතය ද නැති නම් වෙනත් භාෂා ව්‍යවහාරයක් දැයි නිදර්ශන සහිතව විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

8. (i) ගන්ධාර හෝ මථුරා හෝ බුදුපිළිම සම්ප්‍රදාය කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*
   (ii) ප්‍රතිමාඝර යනු කවරේදැයි හඳුන්වා ඒවා පිහිටි ස්ථාන දෙකක් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*
   (iii) බුදුපිළිම නෙළීමේ දී යොදා ගත් විවිධ මුද්‍රා හඳුන්වා, මේවා අතුරෙන් වඩාත් ජනප්‍රිය මුද්‍රා කවරේ දැයි විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

## 2563 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2018 (2019)

**S 5**

## (05) බෞද්ධ සමාජ දර්ශනය

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

### II කොටස

**2.** (i) සිගාලෝවාද සූත්‍රයට අනුව යට දිශාව නියෝජනය කරන පිරිස නම් කොට ඔවුන්ට ඉටු කළ යුතු යුතුකම් හා ප්‍රදානය කළ යුතු අයිතිවාසිකම් දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) 'සදිසාව සමග විධිමත් යහපත් සම්බන්ධතා පැවැත්වීමෙන් සමාජයට හා පුද්ගලයාට අභිවෘද්ධියක් සිදු වේ.' යන ප්‍රකාශය තහවුරු කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'පුද්ගලයාගේ හා සමාජයේ භෞතික දියුණුවට මෙන් ම ආධ්‍යාත්මික දියුණුවට ද යොදා ගත හැකි උපදේශනයක් බුදුදහම පුද්ගලයා වෙත පිරිනමයි.' යන ප්‍රකාශය විවිධ සූත්‍ර දේශනා ඇසුරින් ගෙනහැර දක්වන්න. *(ලකුණු 08 යි)*

**3.** (i) පරිසරය හා සෘජුව ම සම්බන්ධ වන නියාම ධර්ම දෙක නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) අධර්ම රාගය, විෂම ලෝභය, මිථ්‍යාදෘෂ්ටිය පැතිරීමෙන් පරිසරයට හානි පැමිණේ. දීඝනිකායේ චක්කවත්තිසීහනාද සූත්‍රයෙන් දැක්වෙන එකී හානිදායක තත්ත්ව විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) මෙරට පරිසරයට සිදුවන දූෂණය හා හානිදායක තත්ත්ව කෙටියෙන් දක්වා, පරිසරය පිළිබඳ බෞද්ධ දාර්ශනික චින්තනය පෝෂණය කොට ක්‍රියාවට නැංවීමෙන් එය සංරක්ෂණය කළ හැකි ආකාරය පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

**4.** (i) ගෘහස්ථයන්ට ගැළපෙන ධර්මයක් ඉගෙනීමට බුදුරදුන් වෙත පැමිණි දීඝජාණු කෝළිය පුත්‍රයා තමන් හඳුන්වා දෙමින් ඉදිරිපත් කළ ගිහියාගේ ස්වභාවයන් අතුරින් හතරක් පෙන්වා දෙන්න. *(ලකුණු 04 යි)*

(ii) පරිභෝජනවාදී ආර්ථිකය තුළ ගෘහස්ථයා වින්දනය කළ යුතු අණන සූත්‍රාගත සැප හතර හඳුන්වා ඉන් එකක් විස්තර කරන්න. *(ලකුණු 06 යි)*

(iii) ආර්ථික ජීවිතය තුළ පවත්නා අනර්ථකාරී තත්ත්වයන් ඉවත් කොට මානව දයාව පෙරදැරි ව සියලු සත්වයන්ට අර්ථදායක ආර්ථික රටාවක් ප්‍රතිෂ්ඨාපනය කිරීමට බුදුසමය ඉදිරිපත් කරන යෝජනා විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

**5.** (i) වර්ණභේද සංකල්පය බිඳ දැමීමට බුදුරදුන් ක්‍රියාත්මක කළ ප්‍රායෝගික පියවර දෙකක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) වර්ණභේද සංකල්පය නිසා භාරතීය සමාජය පීඩාවට පත් වූ ආකාරය පිළිබඳ කෙටි සටහනක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) 'වර්ණභේද සංකල්පය අතාර්කික හා විද්‍යාත්මක නොවන, මූලික මිනිස් අයිතිවාසිකම් අහිමි කරන මිථ්‍යාවක් බව බුදුදහම පැහැදිලි කරයි.' යන ප්‍රකාශනය සනාථ කරන්න. *(ලකුණු 08 යි)*

**6.** (i) දීඝනිකායේ මහා ගෝවින්ද සූත්‍රයේ දැක්වෙන සප්තභාරතයට අයත් ජනපද අතුරින් හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) චක්‍රවර්ති රජුගේ ජාතික පාලන ප්‍රතිපත්ති නම් කර ඒ පිළිබඳව කෙටි හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) මූලික මානව අයිතිවාසිකම් ලෙස එක්සත් ජාතීන්ගේ සංවිධානය ඉදිරිපත් කොට ඇති කරුණු බුදු දහම ඉදිරිපත් කරන ශික්ෂා හා ප්‍රතිපත්ති මගින් සාකල්‍යයෙන් ම සාක්ෂාත් කර ගත හැකි දැයි විමර්ශනය කරන්න. *(ලකුණු 08 යි)*

**7.** (i) බුද්ධකාලීන ව භාරතයේ පැවති වෘත්තීන් හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) වාණිජ වෘත්තිකයන් විසින් වැළකී සිටිය යුතු යැයි දැක්වෙන පංචවිධ වෙළඳාම් නම් කර කෙටි හැඳින්වීමක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) අවිචාරවත් පරිභෝජනයකට පොළඹවන වාණිජ ප්‍රචාරයන් පිළිබඳ හැඳින්වීමක් කර අර්ථවත් පරිභෝජන රටාවකට හැඩගැසීම සඳහා බුදුසමය ලබා දෙන උපදෙස් විමර්ශනයට ලක් කරන්න. *(ලකුණු 08 යි)*

[හතරවැනි පිටුව බලන්න.

8. (i) මානව සමාජය තුළ නීතිය, යුක්තිය හා දණ්ඩනයේ අවශ්‍යතාව ප්‍රකට කිරීමෙහි ලා බලපාන සාධක හතරක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) "සමාජ විරෝධී ක්‍රියා මැඩපවත්වා යුක්තිය, සාධාරණය සමාජය තුළ තහවුරු කිරීමට රාජ්‍යය නමැති සමාජ සංස්ථාව ගොඩනගා ගැනිණි." මීට අදාළ අග්ගඤ්ඤ සූත්‍රාගත පුරාවෘත්තය ඉදිරිපත් කොට විචාරයට ලක් කරන්න. *(ලකුණු 06 යි)*

(iii) වරදට දඬුවම වෙනුවට මිනිසුන් වැරදි කරන්නේ මන් දැයි සොයා බලා එම හේතුවට පිළියම් කළ යුතු බව කූටදන්ත සූත්‍රය උගන්වයි. එම ඉගැන්වීම සමාජ සාධාරණත්වය විෂයෙහි අදාළ වන අයුරු සාකච්ඡා කරන්න. *(ලකුණු 08 යි)*

* * *

0051369